266774

OL/2014/33-S-I



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

33 | S | I

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2014 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2014 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2014

ඉතිහාසය I
வரலாறு I
History I

පැය එකයි
ஒரு மணித்தியாலம்
One hour

**සැලකිය යුතුයි :**

(i) **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න. මෙම පත්‍රය සඳහා ලකුණු **80** ක් හිමි වේ.

(ii) අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) උත්තරවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** උත්තරය තෝරන්න.

(iii) **ඔබට සැපයෙන උත්තර පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන්, ඔබ තෝරා ගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**

(iv) එම උත්තර පත්‍රයේ පිටුපස, දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

1. "වර්තමානය තේරුම් ගැනීමට යතුර වශයෙන් අතීතය තේරුම් ගත යුතු ය." යන ප්‍රකාශය කරන ලද්දේ,
   (1) ශ්‍රී ජවහර්ලාල් නේරු ය. (2) ඊ. එච්. කාර් ය.
   (3) ජී. එම්. ට්‍රෙවිලියන් ය. (4) ටී. එස්. එලියට් ය.

2. ලක්දිව පැරණිතම වංසකථාව ලෙස සැලකෙනුයේ,
   (1) මහාවංසය. (2) ථූපවංසය. (3) දීපවංසය. (4) බෝධිවංසය.

3. ශ්‍රී ලංකා ඉතිහාසය ගොඩනගා ගැනීමේ දී ශිලා ලේඛන වඩාත් වැදගත් වීමට හේතුව,
   (1) කෙටි හා අඛණ්ඩ ඓතිහාසික තොරතුරු සැපයීම නිසා ය.
   (2) විශ්වාසදායක වීම හා සිද්ධීන්ට සමකාලීන වීම නිසා ය.
   (3) සමාජ හා ආර්ථික තොරතුරු බහුල වීම නිසා ය.
   (4) බෞද්ධ සිද්ධස්ථානයන්ට කරන ලද දීමනා ගැන තොරතුරු ලැබෙන නිසා ය.

4. ශ්‍රී ලංකාවේ ප්‍රාග් ඓතිහාසික යුගයට අයත් පුරාවිද්‍යාත්මක සාධක ලැබෙන ස්ථානයක් වන්නේ,
   (1) මිහින්තලය ය. (2) සිතුල්පව්ව ය. (3) රිටිගල ය. (4) ෆාහියන්ගල ය.

5. විජය කුමරු ඇතුළු පිරිස මෙරටට ගොඩබට ස්ථානය වූ 'තම්මැන්නා' වෙරළ පිහිටා ඇතැයි සැලකෙනුයේ,
   (1) කැළණි ගඟ හා මහ ඔය මුවදොරවල් අතර ය. (2) මහ ඔය හා දැදුරු ඔය මුවදොරවල් අතර ය.
   (3) දැදුරු ඔය හා කලා ඔය මුවදොරවල් අතර ය. (4) කලා ඔය හා මල්වතු ඔය මුවදොරවල් අතර ය.

6. ශ්‍රී ලංකාව ගැන තොරතුරු වාර්තා කළ විදේශ ලේඛකයන් කිහිපදෙනෙක්ගේ නම් I වන තීරුවේ ද, එම තොරතුරු ඇතුළත් කෘතීන් II වන තීරුවේ ද දැක්වේ.

| I තීරුව | II තීරුව |
|---|---|
| (i) ඇරිස්ටෝටල් | A - නැචුරාලිස් හිස්ටෝරියා |
| (ii) ටොලමි | B - ඩිමුන්ඩෝ |
| (iii) කෞටිල්‍ය | C - අර්ථශාස්ත්‍රය |
| | D - භූගෝල ශාස්ත්‍ර ප්‍රවේශය |

   I තීරුවට අනුව II තීරුව ගැළපූ විට නිවැරදි පිළිතුර වන්නේ,
   (1) A, B හා D ය. (2) A, C හා D ය. (3) B, C හා D ය. (4) B, D හා C ය.

7. අතීතයේ දී ශ්‍රී ලංකාව ගැන තොරතුරු සැපයූ දේශාටකයන්ගේ වාර්තාවල වැඩි වශයෙන් ම ඇතුළත් වී ඇත්තේ,
   (1) ශ්‍රී ලංකාව අසල්වැසි රටවල් සමඟ ආගමික සම්බන්ධතා පැවැත් වූ බව ය.
   (2) විවිධ දක්ෂතා තිබූ ශිල්පීන් මෙහි සිටි බව ය.
   (3) ශ්‍රී ලංකාව හා විදේශ රටවල් අතර වෙළෙඳ සම්බන්ධතා ගොඩනැගී තිබූ බව ය.
   (4) විදේශ රටවල් ශ්‍රී ලංකාව සමඟ රාජ්‍යතාන්ත්‍රික සම්බන්ධතා පැවැත් වූ බව ය.

8. ප්‍රථමවරට ශ්‍රී ලංකාවේ ග්‍රාම සීමා නියම කරන ලද්දේ පහත සඳහන් කවර රාජ්‍ය සමයක දී ද?
   (1) දේවානම්පිය තිස්ස (2) වසභ (3) වළගම්බා (4) පණ්ඩුකාභය

9. ක්ෂත්‍රිය අභිෂේකය මෙරටට හඳුන්වා දුන් ඉන්දියානු පාලකයා,
   (1) බිම්බිසාර ය. (2) චන්ද්‍රගුප්ත මෞර්ය ය.
   (3) අශෝක ය. (4) සමුද්‍රගුප්ත ය.

10. ආක්‍රමණිකයකු වුව ද සාධාරණ හා නීති ගරුක පාලනයක් ගෙන ගිය බව මහාවංස කතුවරයා සඳහන් කරන, අනුරාධපුර පාලකයා කවරෙක් ද?
(1) රාජරාජ (2) එළාර (3) ශ්‍රී මාර ශ්‍රී වල්ලභ (4) රාජේන්ද්‍ර චෝළ

11. නාගරික ජල අවශ්‍යතාවන්ට මුල් තැන දෙමින් ගොඩනගන ලද ජලාශ **දෙකක්** ලෙස සැලකිය හැක්කේ මින් කුමක් ද?
(1) හුරුළු වැව, කලා වැව (2) මින්නේරිය වැව, කවුඩුළු වැව
(3) තිසා වැව, නුවර වැව (4) ඉරණමඩුව වැව, ගිරිතලේ වැව

12. එක් ගංගා ද්‍රෝණියක ජලය ඇළ මාර්ගයක් මගින් තවත් ගංගා ද්‍රෝණියක් කරා ගෙන යාමේ ශිල්පීය දක්ෂතාව පෙන්නුම් කළ අවස්ථාවකට දිය හැකි හොඳම නිදසුන මින් කුමක් ද?
(1) ඇලහැර ඇළ (2) මිනිපේ ඇළ (3) ආකාශ ගංගාව (4) ජය ගඟ

13. අනුරාධපුර අවධියේ රජකම උරුම වීමේ සම්මත ක්‍රමයක් **නොවන්නේ**,
(1) පියාගෙන් පුතාට ය.
(2) සහෝදරයාගෙන් සහෝදරයාට ය.
(3) බාලම සහෝදරයාගෙන් පසු වැඩි මහලු සහෝදරයාගේ පුතාට ය.
(4) රජුගේ බිසවගෙන් රජ දියණියට ය.

14. A - මාගම රජ පෙළපතෙහි ආරම්භකයා
B - අනුරාධපුරයේ පළමු ස්තූපය කරවීම
C - කලා වැව නිර්මාණය කිරීම
D - දකුණු ඉන්දීය සේනාවක ආධාරයෙන් අනුරාධපුරයේ රාජ්‍ය බලය ලබා ගැනීම
ඉහත A, B, C හා D වල සඳහන් සිද්ධීන්ට සම්බන්ධ රජවරුන්ගේ නම් අනුපිළිවෙළින් ඇතුළත් පිළිතුර තෝරන්න.
(1) දේවානම්පිය තිස්ස, මහානාග, ධාතුසේන, පළමුවන මුගලන්
(2) මහානාග, දේවානම්පිය තිස්ස, ධාතුසේන, පළමුවන මුගලන්
(3) දේවානම්පිය තිස්ස, වසභ, මහසෙන්, මහානාග
(4) මහානාග, පළමුවන මුගලන්, දේවානම්පිය තිස්ස, මහසෙන්

15. සොළීන් පරාජය කිරීම සඳහා පළමුවන විජයබාහු රජුගේ හමුදා ගමන් ඇරඹූ ස්ථානය කුමක් ද?
(1) මහානාගහුල (2) මහාගාම (3) කාචරගාම (4) ගොඩවාය

16. අනුරාධපුර සමයේ 'පිටදඩහස', 'මදෙහස' හා 'අකලහස' යන නම්වලින් හඳුන්වා ඇත්තේ,
(1) රජුට සහය වූ රාජ්‍ය නිලධාරීන් තිදෙනෙකි. (2) ගොවීන්ගෙන් අය කළ බදු වර්ග තුනකි.
(3) එකල වී වගා කළ කන්න තුනකි. (4) එකල භාවිතයේ පැවැති කාසි වර්ග තුනකි.

17. තම දේශපාලන ප්‍රතිවාදීන් අභිබවා වැසියන් අතර ජනප්‍රිය වීම සඳහා ප්‍රචාරක මාධ්‍යයක් ලෙස ශිලා ලිපි කරවන ලද පාලකයා මින් කවරෙක් ද?
(1) පළමුවන විජයබාහු (2) පළමුවන පරාක්‍රමබාහු (3) කීර්ති ශ්‍රී නිශ්ශංකමල්ල (4) සාහස්සමල්ල

18. පළමුවන විජයබාහු රජතුමා ශ්‍රේෂ්ඨ පාලකයකු ලෙස සැලකීමට ප්‍රධානතම හේතුව මින් කුමක් ද?
(1) බලවත් සොළී පාලනයෙන් රට මුදා ගැනීමට කටයුතු කිරීම ය.
(2) පොළොන්නරුව අගනුවර වශයෙන් තෝරාගෙන ශක්තිමත් පාලනයක් ගොඩනැගීම ය.
(3) නටබුන්ව තිබූ වාරිමාර්ග ප්‍රතිසංස්කරණය කිරීම හා කෘෂිකර්මය දියුණු කිරීම ය.
(4) විනාශ වී ගිය වෙහෙර විහාර ප්‍රතිසංස්කරණය කිරීම හා උපසම්පදාව නැවත පිහිටු වීම ය.

19. A - ජාතක කතා පොත සිංහලට පරිවර්තනය කිරීම
B - තුන්වන විජයබාහු රජු දඹදෙණියේ රජ වීම
C - යාපනයේ පාලකයා ලෙස සපුමල් කුමාරයා පත් කිරීම
D - ගඩලාදෙණිය විහාරය ඉදි කිරීම
ඉහත දැක්වෙන ඓතිහාසික තොරතුරු, ඒවා සිදුවීමේ අනුපිළිවෙළට පෙළ ගැස් වූ විට නිවැරදි පිළිතුර තෝරන්න.
(1) A, B, C හා D (2) B, A, D හා C (3) C, A, B හා D (4) D, A, B හා C

20. මූලික වශයෙන් ජල දුර්ගයක් මුල් කොට ගෙන ඉදිකරන ලද පාලන මධ්‍යස්ථානයකි.
(1) කෝට්ටේ (2) කුරුණෑගල (3) දඹදෙණිය (4) යාපහුව

21. පහත දැක්වෙන ප්‍රකාශ අතුරෙන් උඩරට හා පෘතුගීසින් අතර වූ සම්බන්ධතා පිළිබඳ ව සත්‍ය ප්‍රකාශ දෙක ඇතුළත් පිළිතුර කුමක් ද?
A - පෘතුගීසීහු උඩරට රජවරුන් සමඟ ලන්දේසින්ට වඩා මිත්‍රශීලී පිළිවෙතක් අනුගමනය කළහ.
B - උඩරට ප්‍රදේශවල පාලන බලයක් ලබා ගැනීමට පෘතුගීසීහු අසමත් වූහ.
C - උඩරට සමඟ පෘතුගීසි සබඳතාව ආක්‍රමණශීලී එකක් විය.
D - උඩරට ආක්‍රමණය කළ සෑම අවස්ථාවක දී ම පෘතුගීසීහු ජයග්‍රහණය කළහ.
E - පෘතුගීසීහු උඩරට ප්‍රදේශවල වෙළෙඳ ඒකාධිකාරිය අත්කර ගත්හ.
(1) A හා B (2) B හා C (3) C හා D (4) D හා E

22. A - නූතන මුද්‍රණ ශිල්පයේ ආරම්භය
B - දේවස්ථාන ආශ්‍රිත පාසල් ක්‍රමය බිහි වීම
C - රෝමානු කතෝලික ආගම පැතිරීම
D - කුරුඳු වගාව සංවිධානාත්මකව ඇරඹීම

ඉහත කරුණු අතුරෙන් ලන්දේසි පාලනය නිසා මෙරට ඇති වූ ප්‍රතිඵල දෙකක් වන්නේ,
(1) A හා B ය. (2) A හා D ය. (3) B හා C ය. (4) C හා D ය.

23. ශ්‍රී වික්‍රම රාජසිංහ රජු බලයෙන් පහකිරීමට සූක්ෂ්ම ලෙස පසුබිම සකස් කළ පුද්ගලයන් අතුරෙන් ප්‍රමුඛත්වය හිමි වන්නේ,
(1) ෆෙඩ්රික් නෝර්ත් ආණ්ඩුකාරවරයාට ය.
(2) රොබට් බ්‍රවුන්රිග් ආණ්ඩුකාරවරයාට ය.
(3) ඇහැලේපොල මහාධිකාරම්වරයාට ය.
(4) උඩරට රෙසිඩන්ට්වරයා වූ ජෝන් ඩොයිලිට ය.

24. මෙරට වතු වගාවේ දියුණුවට විශාල බලපෑමක් ඇති කරන ලද්දේ පහත සඳහන් කවර ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය මගින් ද?
(1) කෝල්බෲක් (2) මැනිං-ඩෙවොන්ෂයර් (3) ඩොනමෝර් (4) සෝල්බරි

25. පහත දැක්වෙන කරුණු අතුරෙන් බ්‍රිතාන්‍යයන්ට ශ්‍රී ලංකාව යටත් කර ගැනීමට පසුබිම් වූ හේතු ඇතුළත් පිළිතුර කුමක් ද?
A - ශ්‍රී ලංකාවේ පිහිටි ත්‍රිකුණාමලය ස්වාභාවික වරාය
B - ශ්‍රී ලංකාවේ නිෂ්පාදිත වටිනා වෙළෙඳ ද්‍රව්‍ය
C - දේශීය ජනතාව ක්‍රිස්තියානි ආගමට හරවා ගැනීමේ අවශ්‍යතාව
D - වතු වගාව සඳහා සුදුසු ඉඩම් ලබා ගැනීමේ අවශ්‍යතාව
(1) A හා B (2) A හා D (3) B හා C (4) C හා D

26. ශ්‍රී ලංකාව පාලනය කළ බ්‍රිතාන්‍ය ආණ්ඩුකාරවරුන් අතුරෙන් හෙන්රි වෝඩ්, හර්කියුලීස් රොබින්සන්, විලියම් ග්‍රෙගරි, ආතර් ගෝඩ්න් වැනි අය මෙරට ගැමි ජනතාව ගැන අවධානය යොමු කළ බව පෙනී යන කරුණක් වන්නේ, ඔවුන්
(1) මෙරට වතු වගාවේ දියුණුවට අනුග්‍රහයක් දැක්වීම ය.
(2) මහාමාර්ග හා දුම්රිය මාර්ග ගොඩනැංවීමට උනන්දුවක් දැක්වීම ය.
(3) වාරිමාර්ග පිළිසකර කොට ගොවිතැන් කටයුතු නගා සිටුවීමට කටයුතු කිරීම ය.
(4) ශ්‍රී ලාංකිකයනට වැඩි පාලන බලතල ලබාදීමට කටයුතු කිරීම ය.

27. ඩොනමෝර් ආණ්ඩුක්‍රමය යටතේ මෙරට මහජන නියෝජිතයින්ට පැවරුණේ,
(1) අධ්‍යාපන කටයුතු ය. (2) මූල්‍ය කටයුතු ය. (3) පරිපාලන කටයුතු ය. (4) අධිකරණ කටයුතු ය.

28. වෛදික පාලන සංවිධානය තුළ දක්නට **නොලැබෙන** ලක්ෂණයක් වනුයේ,
(1) පාලකයා 'රාජන්' නමින් හැඳින්වීම ය.
(2) ජනතාව ගෝත්‍ර වශයෙන් සංවිධානවීම ය.
(3) ගම්නායකයන් 'ග්‍රාමණි' නමින් හැඳින්වීම ය.
(4) පාලන ඒකක 'භුක්ති' නමින් හැඳින්වීම ය.

29. මගධයේ දෙවනවරට අගනුවර ලෙස තෝරාගෙන ඇත්තේ කවර නගරය ද?
(1) පාටලීපුත්‍ර (2) බාරාණසී (3) ගිරිව්‍රජ (4) ඉන්ද්‍රප්‍රස්ත

30. හරිසේනගේ අලහබාද් ප්‍රශස්තියෙන් තොරතුරු ලැබෙන ගුප්ත පාලකයා වන්නේ,
(1) ශ්‍රී ගුප්ත ය.
(2) සමුද්‍ර ගුප්ත ය.
(3) පළමුවන චන්ද්‍ර ගුප්ත ය.
(4) ස්කන්ධ ගුප්ත ය.

31. A - මහා ඇලෙක්සැන්ඩර් රජු ඉන්දියාව ආක්‍රමණය කිරීම
B - කාලිදාස කවියා මේඝදූතය රචනා කිරීම
C - සිව්වන ධර්ම සංගායනාව පැවැත්වීම
D - බුදු පිළිම නිර්මාණ කලාවේ ආරම්භය

ඉහත සඳහන් තොරතුරු අතුරෙන් කණිෂ්ක රජතුමාගේ රාජ්‍ය කාලය හා සම්බන්ධ සිද්ධීන් දෙක ඇතුළත් වන්නේ කිනම් පිළිතුරේ ද?
(1) A හා B (2) A හා D (3) B හා C (4) C හා D

32. දිල්ලි සුල්තාන් රජවරුන් කිහිපදෙනෙක්ගේ නම් I තීරුවේ ද, ඔවුන් හා සම්බන්ධ ප්‍රකාශ කිහිපයක් II තීරුවේ ද වේ.

| I තීරුව | II තීරුව |
|---|---|
| (i) කුටුබ්-උද්දීන්-අයිබෙක් | A - දිල්ලි සුල්තාන් රාජ්‍යයේ උපරිම බල ව්‍යාප්තිය සිදු වීම |
| (ii) අලා-උද්දීන්-බල්ජි | B - ඉන්දියාවට පොදු ආගමක් හඳුන්වාදීමට උත්සාහ දැරීම |
| (iii) මොහොමඩ්-බින්-ටුග්ලුග් | C - දිල්ලි සුල්තාන් රාජ්‍යයේ ආරම්භක පාලකයා වීම |
| (iv) ඊබ්‍රාහීම් ලෝදි | D - දිල්ලි සුල්තාන් රාජ්‍යයේ අවසාන පාලකයා වීම |
| | E - සෙයියදු රාජ වංශයේ ආරම්භක පාලකයා වීම |

I තීරුවේ අනුපිළිවෙළට ගැළපෙන සේ II තීරුව සකස් කළ විට නිවැරදි පිළිතුර කවරක් ද?
(1) A, B, C හා D (2) B, C, D හා E (3) C, B, A හා D (4) E, B, D හා A

33. පහත සඳහන් ප්‍රකාශ අතුරෙන් වැඩවසම් ක්‍රමය සම්බන්ධයෙන් සත්‍ය වූ ප්‍රකාශ දෙක ඇතුළත් පිළිතුර කුමක් ද?
A - උත්පත්තිය මත සමාජ තරාතිරම තීරණය වීම
B - නිෂ්පාදන අතිරික්තයක් ඇති වීම
C - වංශාධිපති ප්‍රාදේශීය පාලකයන් ස්වාධීනව කටයුතු කිරීම
D - සාමාන්‍ය ජනතාවට ඉඩම් අයිතිය තිබීම
E - අධිකරණ කටයුතු සම්පූර්ණයෙන් ම රජු යටතේ සිදු වීම
(1) A හා B (2) A හා C (3) B හා C (4) D හා E

34. පහත ප්‍රකාශවලින් දැක්වෙන්නේ එක්තරා නගරයකට අදාළ තොරතුරු කිහිපයකි.
A - යුරෝපයේ මධ්‍යතන යුගයේ දී පෙරදිග හා අපරදිග වෙළෙඳුන් හමුවන මධ්‍යස්ථානයක් වී තිබීම
B - නැගෙනහිර රෝම අධිරාජ්‍යයේ අගනුවර වීම
C - භාෂා - ශාස්ත්‍රීය කටයුතු පිළිබඳ ව වැදගත් මධ්‍යස්ථානයක් වීම
ඉහත කරුණු සම්බන්ධයෙන් වැදගත් වූ නගරය මින් කුමක් ද?
(1) ඇලෙක්සැන්ඩ්‍රියා (2) මාර්සෙල්
(3) කොන්ස්තන්තිනෝපල් (4) පැරිස්

35. යුරෝපයේ පුනරුද සමයේ දියුණුවට පත් වූ ක්ෂේත්‍ර කිහිපයක් හා සම්බන්ධ පුද්ගලයන්ගේ නම් I තීරුවේ ද, ඔවුන් ප්‍රසිද්ධියට පත් ක්ෂේත්‍ර II තීරුවේ ද දැක්වේ.

| I තීරුව | II තීරුව |
|---|---|
| (i) කොලොම්බස් | A - වෛද්‍ය ක්ෂේත්‍රය |
| (ii) මයිකල් ආන්ජිලෝ | B - චිත්‍ර කලාව |
| (iii) විලියම් හාවේ | C - දේශ ගවේෂණය |
| | D - තාරකා විද්‍යාව |
| | E - මුද්‍රණ ශිල්පය |

I තීරුව අනුව II තීරුව ගැළපූ විට නිවැරදි පිළිතුර කවරක් ද?
(1) A, B හා C (2) B, C හා D (3) C, B හා A (4) D, E හා A

36. 15 වැනි සියවසේ සිට ම දේශ ගවේෂණය හා යටත් විජිත පිහිටුවීමේ කාර්යයෙහි දී ස්පාඤ්ඤය පෙරමුණේ සිටිය ද, 17 වැනි සියවස වන විට ඔවුන්ගේ ආධිපත්‍යය බිඳ වැටීමට හේතු වූ කරුණ වූයේ,
(1) ඔවුන්ගේ දේශ ගවේෂණ කටයුතුවලට රාජානුග්‍රහය නොලැබී යාමයි.
(2) යුරෝපයේ බල තුලනය ඕලන්දය, ප්‍රංශය හා එංගලන්තය යන රටවලට වාසිදායක ලෙස වෙනස් වීමයි.
(3) යටත් විජිත පිහිටු වීමේ දී ඔවුන් අනුගමනය කළ කෲර හා බිහිසුණු ප්‍රතිපත්තියයි.
(4) පාප් වහන්සේගේ නියමය අනුව ඇමරිකා මහද්වීපවලට පමණක් ඔවුන්ගේ කටයුතු සීමා වීමයි.

37. පුනරුදයේ විශේෂ ලක්ෂණයක් වූයේ,
(1) පුද්ගලයාට වඩා සාමූහිකත්වය ඉස්මතු වීම ය.
(2) කලාව හා සාහිත්‍යය ලෞකික මුහුණුවරක් ගැනීම ය.
(3) ග්‍රීක හා ලතින් භාෂාවලට වඩා ගෝත්‍රික භාෂා ජනප්‍රිය වීම ය.
(4) කලාව හා සාහිත්‍යය ආගමික මුහුණුවරක් ගැනීම ය.

38. ක්‍රි.ව.1811 දී ජෝන් මැකඩම් විසින් හඳුන්වා දෙනු ලැබූ 'මැකඩම් ක්‍රමය' භාවිත කරන ලද්දේ,
(1) මහාමාර්ග තැනීම සඳහා ය.
(2) යපස් උණු කොට යකඩ නිපදවීම සඳහා ය.
(3) දුම්රිය මාර්ග තැනීම සඳහා ය.
(4) යකඩවල ඇති අපද්‍රව්‍ය ඉවත් කර වානේ නිපදවීම සඳහා ය.

39. සමුරායිවරුන්ගේ තත්ත්වය පහත වැටී ඩයිමියෝවරුන්ගේ තත්ත්වය ඉහළ නැංවී ජපානයේ සමාජ විපර්යාසයක් සිදු වූයේ කවර පාලන සමයේ දී ද?
(1) ටොකුගාවා ෂෝගුන්
(2) මෙයිජි
(3) මුට්සුහිතෝ අධිරාජයා
(4) හිරෝහිතෝ අධිරාජයා

40. ක්‍රි.ව.1959 දී චීනයේ කෘෂිකාර්මික ක්ෂේත්‍රයේ ශීඝ්‍ර වර්ධනයක් ඇති කිරීම සඳහා මාඕ-සේ-තුං විසින් හඳුන්වා දෙනු ලැබූ වැඩසටහන වූයේ,
(1) දීර්ඝ පාගමනයි.
(2) සමූපකාර ගොවිපළවල් පිහිටු වීමයි.
(3) මහා ඉදිරි පිම්මයි.
(4) රතු ආරක්ෂක හමුදාව පිහිටු වීමයි.

* * *

OL/2014/33-S-II



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**33 S II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2014 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2014 டிசெம்பர்
**General Certificate of Education (Ord. Level) Examination, December 2014**

| | | |
|---|---|---|
| **ඉතිහාසය** | **II** | **පැය තුනයි** |
| வரலாறு | **II** | மூன்று மணித்தியாலம் |
| History | **II** | *Three hours* |

265444

- ✻ **I** කොටසෙ **පළමුවන** ප්‍රශ්නය අනිවාර්ය වේ.
- ✻ **II** කොටසින් ප්‍රශ්න **තුනකට** ද, **III** කොටසින් ප්‍රශ්න **දෙකකට** ද පිළිතුරු සපයන්න.
- ✻ පිළිතුරු සැපයිය යුතු මුළු ප්‍රශ්න සංඛ්‍යාව **හයකි.**

## I කොටස

**1.** **(අ)** පහත (i) යටතේ දක්වා ඇති ඓතිහාසික ස්ථාන සියල්ල ම සපයා ඇති ශ්‍රී ලංකා සිතියමෙහි ද (ii) යටතේ දක්වා ඇති ඓතිහාසික ස්ථාන සියල්ල ම සපයා ඇති ලෝක සිතියම් කොටසෙහි ද ලකුණු කර නම් කරන්න.

(i) කලා වැව, පුලස්ථි නගරය, ජජ්ජර නදී, කාචරගාම, ගෝකණ්ණ, කාලතිත්ථ, සොංකඩගල, හලාවත, අලිමංකඩ, උපතිස්සගාම (ලකුණු 10 යි)

(ii) ගංගා නම් ගඟ, සුප්පාරක, ජාවා දූපත, කළු මුහුද, ජපානය, අරාබිය, මලය අර්ධද්වීපය, රතු මුහුද (ලකුණු 08 යි)

**(ආ)** (i) පහත *A, B, C* හා *D* යටතේ දක්වා ඇති ඓතිහාසික තොරතුරු හා සම්බන්ධ පුද්ගලයන්/රටවල් අනුපිළිවෙළින් ඔබේ පිළිතුරු පත්‍රයේ ලියා දක්වන්න.

*A* - මෞර්ය අධිරාජ්‍යයේ ආරම්භක පාලකයා

*B* - 'මොනාලිසා' චිත්‍රය අඳින ලද චිත්‍ර ශිල්පියා

*C* - කොන්ෆියුසියස් ධර්මය පැතිරුණු රට

*D* - 'අංකෝර්වට්' විහාරය පිහිටි රට (ලකුණු 04 යි)

- *A* සහ *B* යටතේ දක්වා ඇති පින්තූර අධ්‍යයනය කොට, අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු **අංක අනුපිළිවෙළින්** ඔබේ පිළිතුරු පත්‍රයේ ලියන්න.

(ii) 1. *A* වලින් දැක්වෙන ගොඩනැගිල්ල කුමක් ද?
2. මෙය පිහිටා ඇත්තේ ශ්‍රී ලංකාවේ කවර ප්‍රදේශයක ද?
3. එය කවර ආගමක් නියෝජනය කරයි ද?
4. මෙය ගොඩනැංවීමට හා නඩත්තුවට අනුග්‍රහය දැක් වූ රාජ පරම්පරාව කිනම් නමකින් හැඳින්වේ ද?

(ලකුණු 04 යි)



*A*

(iii) 1. *B* වලින් දැක්වෙන නිර්මාණයේ නම කුමක් ද?
2. එය පිහිටි රට කුමක් ද?
3. මෙම නිර්මාණය කරවන ලද්දේ කවර රජකෙනකු විසින් ද?
4. ඒ කුමක් සඳහා ද?

(ලකුණු 04 යි)



*B*

## II කොටස

**2.** (i) පහත දැක්වෙන ඓතිහාසික සිද්ධීන් අතුරෙන්

*A* - සංක්‍රමණ **දෙකක්** ද,

*B* - ආක්‍රමණ **එකක්** ද,

තෝරා ලියන්න.

- තපස්සු - භල්ලුක වෙළෙඳ දෙබෑයන්ගේ පැමිණීම
- හේමමාලා කුමරිය සහ දන්ත කුමරු විසින් දළදා වහන්සේ රැගෙන ඒම
- විජය කුමරු ඇතුළු පිරිසගේ පැමිණීම
- සේන හා ගුත්තිකගේ පැමිණීම
- මාඝ ඇතුළු පිරිසගේ පැමිණීම
- භද්ද කච්චානා කුමරියගේ සහෝදර පිරිසගේ පැමිණීම (ලකුණු 03 යි)

(ii) පහත සඳහන් ආර්ය ජනාවාස පිහිටියේ ශ්‍රී ලංකාවේ කවර ගංගා නිම්න ආශ්‍රිතව දැයි *A, B, C, D* අනුපිළිවෙළින් සඳහන් කරන්න.

*A* - අනුරාධගාම *B* - දීඝගාම

*C* - උරුවේලගාම *D* - මහාගාම (ලකුණු 04 යි)

(iii) අනුරාධපුර යුගයේ මුල් භාගයේ දී වාරිමාර්ග ආරම්භ කිරීම කෙරෙහි බලපෑ හේතු **දෙකක්** පැහැදිලි කරන්න. (ලකුණු 05 යි)

(iv) පළමුවැනි පරාක්‍රමබාහු රාජ්‍ය සමයේ වැදගත්කම කරුණු **තුනක්** ඇසුරෙන් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

**3.** (i) පහත සිතියමෙහි *A, B* හා *C* වලින් දක්වා ඇති තොටුපොළ **තුන** අනුපිළිවෙළින් නම් කරන්න. (ලකුණු 03 යි)




(ii) විදේශයන් සමඟ අතීතයේ දී දේශපාලන හා වෙළෙඳ සම්බන්ධතා ගොඩනැගීමෙහි ලා බලපෑ ශ්‍රී ලංකාවේ පිහිටීමේ සුවිශේෂී ලක්ෂණ **දෙකක්** දක්වන්න. (ලකුණු 04 යි)

(iii) (*a*) අතීතයේ දී ශ්‍රී ලංකාවේ පැවැති දේශීය වෙළෙඳාම පිළිබඳ ව තොරතුරු ලබා ගත හැකි පුරා විද්‍යාත්මක මූලාශ්‍රයයක් නම් කරන්න.

(*b*) එකල ශ්‍රී ලංකාවේ පැවැති දේශීය වෙළෙඳාම සංවිධානය වී තිබූ ආකාරය කරුණු **දෙකක්** ඇසුරෙන් විස්තර කරන්න. (ලකුණු 05 යි)

(iv) විදේශ බලපෑම් නිසා පොළොන්නරු යුගයේ දී මෙරට ආගමික හා කලා ක්ෂේත්‍රවල ඇති වූ වෙනස්කම්,

4. (i) පෘතුගීසින් පැමිණෙන විට මෙරට පැවැති රාජධානි **තුන** නම් කරන්න. (ලකුණු 03 යි)

(ii) පහත $A, B, C$ හා $D$ වලින් දැක්වෙන ඓතිහාසික තොරතුරු හා සම්බන්ධ පුද්ගලයන්/ස්ථාන වරහන් තුළින් තෝරා අනුපිළිවෙළින් ලියා දක්වන්න.

*A* - පෙරදිග පෘතුගීසි මූලස්ථානය

*B* - පෙරදිග ලන්දේසි මූලස්ථානය

*C* - මුල්ලේරියා සටනින් පෘතුගීසින්ව අන්ත පරාජයට පත් කළ සිංහල කුමාරයා

*D* - පළමුවන විමලධර්ම සූරිය රජු දවස උඩරටට පැමිණි පළමු ලන්දේසි ජාතිකයා

(ජෝරිස් ෆන් ස්පිල් බර්ජන්, සී බොල්ට් ඩි වාර්ට්, ලිස්බන්, ගෝව, ඇම්ස්ටර්ඩෑම්, බතාවිය, මහා අස්ථාන කුමරු, ටිකිරි කුමරු) (ලකුණු 04 යි)

(iii) ලන්දේසින් මෙරටින් ආර්ථික වාසි ලබා ගත් ආකාරය කරුණු **දෙකක්** ඇසුරෙන් විස්තර කරන්න. (ලකුණු 05 යි)

(iv) පෘතුගීසින්ට හා ලන්දේසින්ට උඩරට රාජධානිය යටත් කර ගැනීමට නොහැකි වූයේ ඇයි දැයි නිදසුන් ඉදිරිපත් කරමින් පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)

5. (i) පහත සඳහන් එක් එක් ඓතිහාසික සිද්ධිය හා සම්බන්ධ තැනැත්තා කවරෙක් ද?

*A* - කුසුමාසන දේවිය විවාහ කර ගනිමින් උඩරට රාජ්‍ය අයිතිය ලබා ගැනීම

*B* - ක්‍රි.ව. 1638 දී ලන්දේසින් සමඟ ගිවිසුමකට එළඹීම

*C* - ලන්දේසින්ගේ සහාය ඇතිව සියමෙන් මෙරටට උපසම්පදාව ගෙන ඒම (ලකුණු 03 යි)

(ii) මුහුදුබඩ පළාත්වල තම බලය පිහිටුවා ගත් බ්‍රිතාන්‍යයන්ට උඩරට රාජ්‍යය යටත් කර ගැනීමේ අවශ්‍යතාවක් ඇති වීම කෙරෙහි බලපෑ හේතු **දෙකක්** සඳහන් කරන්න. (ලකුණු 04 යි)

(iii) ක්‍රි.ව. 1815 දී රොබට් බ්‍රවුන්රිග් ආණ්ඩුකාරවරයාට පහසුවෙන්ම උඩරට යටත්කර ගැනීමට හැකි වූයේ ඇයි දැයි සාධක **දෙකක්** ඇසුරෙන් පැහැදිලි කරන්න. (ලකුණු 05 යි)

(iv) ක්‍රි.ව. 1818 දී උඩරට, බ්‍රිතාන්‍ය විරෝධී නිදහස් අරගලයක් ඇතිවීමට බලපෑ හේතු **තුනක්** විස්තර කරන්න. (ලකුණු 06 යි)

6. (i) පහත දැක්වෙන එක් එක් කරුණ හා සම්බන්ධ පුද්ගලයන් කවුරුන් දැයි අනුපිළිවෙළින් දක්වන්න

*A* - ක්‍රි.ව. 1891 දී ඉන්දීය මහාබෝධි සමාගම පිහිටුවීම

*B* - යාපනයේ වඩ්ඩුකෝට්ටෙයි හි ඉංග්‍රීසි පාසලක් පිහිටුවීම

*C* - මරදානේ සහිරා විද්‍යාලයේ විදුහල්පති ලෙස කටයුතු කරමින් මුස්ලිම් දරුවන්ගේ අධ්‍යාපනයට මහඟු සේවයක් ඉටු කිරීම (ලකුණු 03 යි)

(ii) කෝල්බෲක් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ යෝජනා **දෙකක්** සඳහන් කරන්න. (ලකුණු 04 යි)

(iii) *A* - අප රටට සර්වජන ඡන්ද බලය ලබාදුන් ආණ්ඩුක්‍රමය නම් කරන්න.

*B* - වර්තමානයේ ඡන්ද බලයෙන් මහජන නියෝජිතයන් තෝරා පත් කරගනු ලබන අවස්ථා **තුනක්** සඳහන් කරන්න. (ලකුණු 05 යි)

(iv) මෙරට බෞද්ධ අධ්‍යාපනය නගා සිටුවීම සඳහා හෙන්රි ස්ටීල් ඕල්කට්තුමාගෙන් සිදු වූ සේවාව ඇගයීමකට ලක් කරන්න. (ලකුණු 06 යි)

## III කොටස

7. (i) වයඹදිග ඉන්දියාවේ පිහිටි දුර්ග මාර්ග **තුනක්** නම් කරන්න. (ලකුණු 03 යි)

(ii) පහත $A, B, C$ හා $D$ වලින් දැක්වෙන තොරතුරුවලට ගැළපෙන පිළිතුර වරහන් තුළින් තෝරා අනුපිළිවෙළින් ලියා දක්වන්න.

*A* - ඉන්දියාවට සංක්‍රමණය වූ ආර්යයන්ගේ නිජබිම වශයෙන් සැලකෙන ප්‍රදේශය

*B* - ඍග් වෛදික ආර්යයන් මුලින් ම ඉන්දියාවේ පදිංචි වූ ප්‍රදේශය

*C* - වෛදික යුගයේ ගෞරවාදරයට පාත්‍ර වූ සත්ත්වයා

*D* - ඉන්දියාවේ දකුණු දෙසට සංක්‍රමණය වීමට පටන් ගත් ආර්යයන්ට තරණය කිරීමට සිදු වූ කඳුවැටිය

(හින්දුකුෂ්, ස්ටෙප්ස් තණබිම, වින්ධ්‍යා, ඉරානය, සප්ත සින්ධු, ගංගා නම් නිම්නය, අශ්වයා, ගවයා) (ලකුණු 04 යි)

(iii) වෛදික යුගයේ

(*a*) සමාජ සංවිධානය

(*b*) ආර්ථිකය

පිළිබඳ තොරතුරු සැකෙවින් දක්වන්න. (ලකුණු 05 යි)

**8.** (i) වෙළෙඳ අවශ්‍යතා ඉටු කර ගැනීම සඳහා ඉන්දියාවේ වෙළෙඳ මධ්‍යස්ථාන ඇති කළ යුරෝපා ජාතීන් **තුනක්** නම් කරන්න. (ලකුණු 03 යි)

(ii) පහත $A, B, C$ හා $D$ යටතේ දක්වා ඇති ඓතිහාසික තොරතුරුවලට සම්බන්ධ පුද්ගලයන්/ස්ථාන වරහන් තුළින් තෝරා අනුපිළිවෙළින් ලියා දක්වන්න.

$A$ - ඉන්දියාවේ අවසාන බ්‍රිතාන්‍ය ප්‍රතිරාජයා
$B$ - "බ්‍රිතාන්‍යයන් ඉන්දියාවෙන් පිටු දැකීම සඳහා අවි බලය යෙදිය යුතු ය." යන අදහස දැරූ පුද්ගලයා
$C$ - ඉන්දියානු ජාතික ව්‍යාපාරයේ පියා වශයෙන් සලකනු ලබන පුද්ගලයා
$D$ - ඉන්දියානු ජාතික කොන්ග්‍රසය හා මුස්ලිම් සංගමය අතර එකඟතාවක් ඇති කර ගැනීම සඳහා සම්මේලනයක් පැවැත් වූ ස්ථානය

(කර්සන් සාමි, සුභාෂ් චන්ද්‍රබෝස්, ජවහර්ලාල් නේරු, බාල් ගංගාධාර් තිලක්, සුරේන්ද්‍රනාත් බැනර්ජි, මවුන්ට් බැටන් සාමි, කල්කටා, සිම්ලා) (ලකුණු 04 යි)

(iii) බ්‍රිතාන්‍ය පාලන සමයේ දී ඉන්දියානුවන් තුළ ජාතිකානුරාගී හැඟීම් වර්ධනය වීම කෙරෙහි බලපෑ හේතු **දෙකක්** නිදසුන් දක්වමින් පැහැදිලි කරන්න. (ලකුණු 05 යි)

(iv) බ්‍රිතාන්‍යයන් ඉන්දියාවෙන් පිටු දැකීම සඳහා මහත්මා ගාන්ධිතුමා විසින් අනුගමනය කරන ලද ක්‍රියාමාර්ග **තුනක්** නිදසුන් දක්වමින් සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

**9.** (i) එංගලන්තය හැර කාර්මික විප්ලවය පැතිරී ගිය වෙනත් යුරෝපා රටවල් **තුනක්** නම් කරන්න. (ලකුණු 03 යි)

(ii) එංගලන්තයෙන් බැහැර අන් යුරෝපා රටවල් මුල් කාලයේ දී කාර්මික විප්ලවයට ගත් උත්සාහයන් අසාර්ථක වීමට බලපෑ කරුණු **දෙකක්** සඳහන් කරන්න. (ලකුණු 04 යි)

(iii) කාර්මික විප්ලවය නිසා ලොව ප්‍රවාහන කටයුතු ශීඝ්‍ර සංවර්ධනයකට පත් වූ ආකාරය සාගර ප්‍රවාහනය හා ගොඩබිම් ප්‍රවාහනය ආශ්‍රයෙන් පෙන්වා දෙන්න. (ලකුණු 05 යි)

(iv) කාර්මීකරණයේ අහිතකර ප්‍රතිඵල **තුනක්** නිදසුන් දක්වමින් විස්තර කරන්න. (ලකුණු 06 යි)

**10.** (i) $A$ - පළමුවන ලෝක මහා සංග්‍රාමයෙන් පසුව ලෝක සාමය ඇති කිරීම සඳහා පිහිටුවා ගත් සංවිධානය ද
$B$ - ඇමෙරිකා එක්සත් ජනපදය දෙවන ලෝක මහා සංග්‍රාමයට සම්බන්ධ වීමට බලපෑ හේතුව ද
$C$ - දෙවන ලෝක මහා සංග්‍රාමයෙන් පීඩාවට පත් යුරෝපීය රටවලට ආධාර කිරීම සඳහා ඇති කළ වැඩපිළිවෙළ ද

අනුපිළිවෙළින් සඳහන් කරන්න. (ලකුණු 03 යි)

(ii) එක්සත් ජාතීන්ගේ සංවිධානයේ අරමුණු **දෙකක්** සඳහන් කරන්න. (ලකුණු 04 යි)

(iii) දෙවන ලෝක මහා සංග්‍රාමයේ ප්‍රතිඵල **දෙකක්** සැකෙවින් විස්තර කරන්න. (ලකුණු 05 යි)

(iv) සෝවියට් රුසියාව බිඳවැටීමෙන් පසුව ලෝක දේශපාලනයේ ඇති වූ වෙනස්කම් **තුනක්** පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

* * *

266774







**33 S I**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2014 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2014 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2014

| | | |
|---|---|---|
| ඉතිහාසය I | | පැය එකයි |
| வரலாறு I | | ஒரு மணித்தியாலம் |
| History I | | One hour |

**සැලකිය යුතුයි :**

(i) **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න. මෙම පත්‍රය සඳහා ලකුණු **80** ක් හිමි වේ.

(ii) අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) උත්තරවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** උත්තරය තෝරන්න.

(iii) **ඔබට සැපයෙන උත්තර පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන්, ඔබ තෝරා ගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**

(iv) එම උත්තර පත්‍රයේ පිටුපස, දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

1. "වර්තමානය තේරුම් ගැනීමට යතුර වශයෙන් අතීතය තේරුම් ගත යුතු ය." යන ප්‍රකාශය කරන ලද්දේ,
   (1) ශ්‍රී ජවහර්ලාල් නේරු ය. (2) ඊ. එච්. කාර් ය.
   (3) ජී. එම්. ට්‍රෙවිලියන් ය. (4) ටී. එස්. එලියට් ය.

2. ලක්දිව පැරණිතම වංසකථාව ලෙස සැලකෙනුයේ,
   (1) මහාවංසය. (2) ථූපවංසය. (3) දීපවංසය. (4) බෝධිවංසය.

3. ශ්‍රී ලංකා ඉතිහාසය ගොඩනගා ගැනීමේ දී ශිලා ලේඛන වඩාත් වැදගත් වීමට හේතුව,
   (1) කෙටි හා අඛණ්ඩ ඓතිහාසික තොරතුරු සැපයීම නිසා ය.
   (2) විශ්වාසදායක වීම හා සිද්ධීන්ට සමකාලීන වීම නිසා ය.
   (3) සමාජ හා ආර්ථික තොරතුරු බහුල වීම නිසා ය.
   (4) බෞද්ධ සිද්ධස්ථානයන්ට කරන ලද දීමනා ගැන තොරතුරු ලැබෙන නිසා ය.

4. ශ්‍රී ලංකාවේ ප්‍රාග් ඓතිහාසික යුගයට අයත් පුරාවිද්‍යාත්මක සාධක ලැබෙන ස්ථානයක් වන්නේ,
   (1) මිහින්තලය ය. (2) සිතුල්පව්ව ය. (3) රිටිගල ය. (4) ෆාහියන්ගල ය.

5. විජය කුමරු ඇතුළු පිරිස මෙරටට ගොඩබට ස්ථානය වූ 'තම්මැන්නා' වෙරළ පිහිටා ඇතැයි සැලකෙනුයේ,
   (1) කැළණි ගඟ හා මහ ඔය මුවදොරවල් අතර ය. (2) මහ ඔය හා දැදුරු ඔය මුවදොරවල් අතර ය.
   (3) දැදුරු ඔය හා කලා ඔය මුවදොරවල් අතර ය. (4) කලා ඔය හා මල්වතු ඔය මුවදොරවල් අතර ය.

6. ශ්‍රී ලංකාව ගැන තොරතුරු වාර්තා කළ විදේශ ලේඛකයන් කිහිපදෙනෙක්ගේ නම් I වන තීරුවේ ද, එම තොරතුරු ඇතුළත් කෘතීන් II වන තීරුවේ ද දැක්වේ.

| I තීරුව | II තීරුව |
|---|---|
| (i) ඇරිස්ටෝටල් | A - නැචුරාලිස් හිස්ටෝරියා |
| (ii) ටොලමි | B - ඩිමුන්ඩෝ |
| (iii) කෞටිල්‍ය | C - අර්ථශාස්ත්‍රය |
| | D - භූගෝල ශාස්ත්‍ර ප්‍රවේශය |

I තීරුවට අනුව II තීරුව ගැළපූ විට නිවැරදි පිළිතුර වන්නේ,
   (1) A, B හා D ය. (2) A, C හා D ය. (3) B, C හා D ය. (4) B, D හා C ය.

7. අතීතයේ දී ශ්‍රී ලංකාව ගැන තොරතුරු සැපයූ දේශාටකයන්ගේ වාර්තාවල වැඩි වශයෙන් ම ඇතුළත් වී ඇත්තේ,
   (1) ශ්‍රී ලංකාව අසල්වැසි රටවල් සමඟ ආගමික සම්බන්ධතා පැවැත් වූ බව ය.
   (2) විවිධ දක්ෂතා තිබූ ශිල්පීන් මෙහි සිටි බව ය.
   (3) ශ්‍රී ලංකාව හා විදේශ රටවල් අතර වෙළෙඳ සම්බන්ධතා ගොඩනැගී තිබූ බව ය.
   (4) විදේශ රටවල් ශ්‍රී ලංකාව සමඟ රාජ්‍යතාන්ත්‍රික සම්බන්ධතා පැවැත් වූ බව ය.

8. ප්‍රථමවරට ශ්‍රී ලංකාවේ ග්‍රාම සීමා නියම කරන ලද්දේ පහත සඳහන් කවර රාජ්‍ය සමයක දී ද?
   (1) දේවානම්පිය තිස්ස (2) වසභ (3) වළගම්බා (4) පණ්ඩුකාභය

9. ක්ෂත්‍රිය අභිෂේකය මෙරටට හඳුන්වා දුන් ඉන්දියානු පාලකයා,
   (1) බිම්බිසාර ය. (2) චන්ද්‍රගුප්ත මෞර්ය ය.
   (3) අශෝක ය. (4) සමුද්‍රගුප්ත ය.

10. ආක්‍රමණිකයකු වුව ද සාධාරණ හා නීති ගරුක පාලනයක් ගෙන ගිය බව මහාවංස කතුවරයා සඳහන් කරන, අනුරාධපුර පාලකයා කවරෙක් ද?
(1) රාජරාජ (2) එළාර (3) ශ්‍රී මාර ශ්‍රී වල්ලභ (4) රාජේන්ද්‍ර චෝළ

11. නාගරික ජල අවශ්‍යතාවන්ට මුල් තැන දෙමින් ගොඩනගන ලද ජලාශ **දෙකක්** ලෙස සැලකිය හැක්කේ මින් කුමක් ද?
(1) හුරුළු වැව, කලා වැව (2) මින්නේරිය වැව, කවුඩුළු වැව
(3) තිසා වැව, නුවර වැව (4) ඉරණමඩුව වැව, ගිරිතලේ වැව

12. එක් ගංගා ද්‍රෝණියක ජලය ඇළ මාර්ගයක් මගින් තවත් ගංගා ද්‍රෝණියක් කරා ගෙන යාමේ ශිල්පීය දක්ෂතාව පෙන්නුම් කළ අවස්ථාවකට දිය හැකි හොඳම නිදසුන මින් කුමක් ද?
(1) ඇලහැර ඇළ (2) මිනිපේ ඇළ (3) ආකාශ ගංගාව (4) ජය ගඟ

13. අනුරාධපුර අවධියේ රජකම උරුම වීමේ සම්මත ක්‍රමයක් **නොවන්නේ**,
(1) පියාගෙන් පුතාට ය.
(2) සහෝදරයාගෙන් සහෝදරයාට ය.
(3) බාලම සහෝදරයාගෙන් පසු වැඩි මහලු සහෝදරයාගේ පුතාට ය.
(4) රජුගේ බිසවගෙන් රජ දියණියට ය.

14. A - මාගම රජ පෙළපතෙහි ආරම්භකයා
B - අනුරාධපුරයේ පළමු ස්තූපය කරවීම
C - කලා වැව නිර්මාණය කිරීම
D - දකුණු ඉන්දීය සේනාවක ආධාරයෙන් අනුරාධපුරයේ රාජ්‍ය බලය ලබා ගැනීම

ඉහත A, B, C හා D වල සඳහන් සිද්ධීන්ට සම්බන්ධ රජවරුන්ගේ නම් අනුපිළිවෙළින් ඇතුළත් පිළිතුර තෝරන්න.
(1) දේවානම්පිය තිස්ස, මහානාග, ධාතුසේන, පළමුවන මුගලන්
(2) මහානාග, දේවානම්පිය තිස්ස, ධාතුසේන, පළමුවන මුගලන්
(3) දේවානම්පිය තිස්ස, වසභ, මහසෙන්, මහානාග
(4) මහානාග, පළමුවන මුගලන්, දේවානම්පිය තිස්ස, මහසෙන්

15. සොළීන් පරාජය කිරීම සඳහා පළමුවන විජයබාහු රජුගේ හමුදා ගමන් ඇරඹූ ස්ථානය කුමක් ද?
(1) මහානාගහුල (2) මහාගාම (3) කාචරගාම (4) ගොඩවාය

16. අනුරාධපුර සමයේ 'පිටදඩහස', 'මදෙහස' හා 'අකලහස' යන නම්වලින් හඳුන්වා ඇත්තේ,
(1) රජුට සහය වූ රාජ්‍ය නිලධාරීන් තිදෙනෙකි. (2) ගොවීන්ගෙන් අය කළ බදු වර්ග තුනකි.
(3) එකල වී වගා කළ කන්න තුනකි. (4) එකල භාවිතයේ පැවැති කාසි වර්ග තුනකි.

17. තම දේශපාලන ප්‍රතිවාදීන් අභිබවා වැසියන් අතර ජනප්‍රිය වීම සඳහා ප්‍රචාරක මාධ්‍යයක් ලෙස ශිලා ලිපි කරවන ලද පාලකයා මින් කවරෙක් ද?
(1) පළමුවන විජයබාහු (2) පළමුවන පරාක්‍රමබාහු (3) කීර්ති ශ්‍රී නිශ්ශංකමල්ල (4) සාහසමල්ල

18. පළමුවන විජයබාහු රජතුමා ශ්‍රේෂ්ඨ පාලකයකු ලෙස සැලකීමට ප්‍රධානතම හේතුව මින් කුමක් ද?
(1) බලවත් සොළී පාලනයෙන් රට මුදා ගැනීමට කටයුතු කිරීම ය.
(2) පොළොන්නරුව අගනුවර වශයෙන් තෝරාගෙන ශක්තිමත් පාලනයක් ගොඩනැගීම ය.
(3) නටබුන්ව තිබූ වාරිමාර්ග ප්‍රතිසංස්කරණය කිරීම හා කෘෂිකර්මය දියුණු කිරීම ය.
(4) විනාශ වී ගිය වෙහෙර විහාර ප්‍රතිසංස්කරණය කිරීම හා උපසම්පදාව නැවත පිහිටුවීම ය.

19. A - ජාතක කතා පොත සිංහලට පරිවර්තනය කිරීම
B - තුන්වන විජයබාහු රජු දඹදෙණියේ රජ වීම
C - යාපනයේ පාලකයා ලෙස සපුමල් කුමාරයා පත් කිරීම
D - ගඩලාදෙණිය විහාරය ඉදි කිරීම

ඉහත දැක්වෙන ඓතිහාසික තොරතුරු, ඒවා සිදුවීමේ අනුපිළිවෙළට පෙළ ගැස් වූ විට නිවැරදි පිළිතුර තෝරන්න.
(1) A, B, C හා D (2) B, A, D හා C (3) C, A, B හා D (4) D, A, B හා C

20. මූලික වශයෙන් ජල දුර්ගයක් මුල් කොට ගෙන ඉදිකරන ලද පාලන මධ්‍යස්ථානයකි.
(1) කෝට්ටේ (2) කුරුණෑගල (3) දඹදෙණිය (4) යාපහුව

21. පහත දැක්වෙන ප්‍රකාශ අතුරෙන් උඩරට හා පෘතුගීසින් අතර වූ සම්බන්ධතා පිළිබඳ ව සත්‍ය ප්‍රකාශ දෙක ඇතුළත් පිළිතුර කුමක් ද?
A - පෘතුගීසීහු උඩරට රජවරුන් සමඟ ලන්දේසින්ට වඩා මිත්‍රශීලී පිළිවෙතක් අනුගමනය කළහ.
B - උඩරට ප්‍රදේශවල පාලන බලයක් ලබා ගැනීමට පෘතුගීසීහු අසමත් වූහ.
C - උඩරට සමඟ පෘතුගීසි සබඳතාව ආක්‍රමණශීලී එකක් විය.
D - උඩරට ආක්‍රමණය කළ සෑම අවස්ථාවක දී ම පෘතුගීසීහු ජයග්‍රහණය කළහ.
E - පෘතුගීසීහු උඩරට ප්‍රදේශවල වෙළෙඳ ඒකාධිකාරිය අත්කර ගත්හ.
(1) A හා B (2) B හා C (3) C හා D (4) D හා E

22. A - නූතන මුද්‍රණ ශිල්පයේ ආරම්භය
B - දේවස්ථාන ආශ්‍රිත පාසල් ක්‍රමය බිහි වීම
C - රෝමානු කතෝලික ආගම පැතිරීම
D - කුරුඳු වගාව සංවිධානාත්මකව ඇරඹීම

ඉහත කරුණු අතුරෙන් ලන්දේසි පාලනය නිසා මෙරට ඇති වූ ප්‍රතිඵල දෙකක් වන්නේ,

(1) A හා B ය. (2) A හා D ය. (3) B හා C ය. (4) C හා D ය.

23. ශ්‍රී වික්‍රම රාජසිංහ රජු බලයෙන් පහකිරීමට සූක්ෂ්ම ලෙස පසුබිම සකස් කළ පුද්ගලයන් අතුරෙන් ප්‍රමුඛත්වය හිමි වන්නේ,
(1) ෆ්‍රෙඩ්රික් නෝර්ත් ආණ්ඩුකාරවරයාට ය.
(2) රොබට් බ්‍රවුන්රිග් ආණ්ඩුකාරවරයාට ය.
(3) ඇහැලේපොල මහාධිකාරම්වරයාට ය.
(4) උඩරට රෙසිඩන්ට්වරයා වූ ජෝන් ඩොයිලිට ය.

24. මෙරට වතු වගාවේ දියුණුවට විශාල බලපෑමක් ඇති කරන ලද්දේ පහත සඳහන් කවර ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය මගින් ද?
(1) කෝල්බෲක් (2) මැනිං-ඩෙවොන්ෂයර් (3) ඩොනමෝර් (4) සෝල්බරි

25. පහත දැක්වෙන කරුණු අතුරෙන් බ්‍රිතාන්‍යයන්ට ශ්‍රී ලංකාව යටත් කර ගැනීමට පසුබිම් වූ හේතු ඇතුළත් පිළිතුර කුමක් ද?
A - ශ්‍රී ලංකාවේ පිහිටි ත්‍රිකුණාමලය ස්වාභාවික වරාය
B - ශ්‍රී ලංකාවේ නිෂ්පාදිත වටිනා වෙළෙඳ ද්‍රව්‍ය
C - දේශීය ජනතාව ක්‍රිස්තියානි ආගමට හරවා ගැනීමේ අවශ්‍යතාව
D - වතු වගාව සඳහා සුදුසු ඉඩම් ලබා ගැනීමේ අවශ්‍යතාව

(1) A හා B (2) A හා D (3) B හා C (4) C හා D

26. ශ්‍රී ලංකාව පාලනය කළ බ්‍රිතාන්‍ය ආණ්ඩුකාරවරුන් අතුරෙන් හෙන්රි වෝඩ්, හර්කියුලීස් රොබින්සන්, විලියම් ග්‍රෙගරි, ආතර් ගෝඩන් වැනි අය මෙරට ගැමි ජනතාව ගැන අවධානය යොමු කළ බව පෙනී යන කරුණක් වන්නේ, ඔවුන්
(1) මෙරට වතු වගාවේ දියුණුවට අනුග්‍රහයක් දැක්වීම ය.
(2) මහාමාර්ග හා දුම්රිය මාර්ග ගොඩනැංවීමට උනන්දුවක් දැක්වීම ය.
(3) වාරිමාර්ග පිළිසකර කොට ගොවිතැන් කටයුතු නගා සිටුවීමට කටයුතු කිරීම ය.
(4) ශ්‍රී ලාංකිකයනට වැඩි පාලන බලතල ලබාදීමට කටයුතු කිරීම ය.

27. ඩොනමෝර් ආණ්ඩුක්‍රමය යටතේ මෙරට මහජන නියෝජිතයින්ට පැවරුණේ,
(1) අධ්‍යාපන කටයුතු ය. (2) මූල්‍ය කටයුතු ය. (3) පරිපාලන කටයුතු ය. (4) අධිකරණ කටයුතු ය.

28. වෛදික පාලන සංවිධානය තුළ දක්නට **නොලැබෙන** ලක්ෂණයක් වනුයේ,
(1) පාලකයා 'රාජන්' නමින් හැඳින්වීම ය. (2) ජනතාව ගෝත්‍ර වශයෙන් සංවිධානවීම ය.
(3) ගම්නායකයන් 'ග්‍රාමණි' නමින් හැඳින්වීම ය. (4) පාලන ඒකක 'බුක්ති' නමින් හැඳින්වීම ය.

29. මගධයේ දෙවනවරට අගනුවර ලෙස තෝරාගෙන ඇත්තේ කවර නගරය ද?
(1) පාටලීපුත්‍ර (2) බාරාණසී (3) ගිරිව්‍රජ (4) ඉන්ද්‍රප්‍රස්ත

30. හරිසේනගේ අලහබාද් ප්‍රශස්තියෙන් තොරතුරු ලැබෙන ගුප්ත පාලකයා වන්නේ,
(1) ශ්‍රී ගුප්ත ය. (2) සමුද්‍ර ගුප්ත ය.
(3) පළමුවන චන්ද්‍ර ගුප්ත ය. (4) ස්කන්ධ ගුප්ත ය.

31. A - මහා ඇලෙක්සැන්ඩර් රජු ඉන්දියාව ආක්‍රමණය කිරීම
B - කාලිදාස කවියා මේඝදූතය රචනා කිරීම
C - සිව්වන ධර්ම සංගායනාව පැවැත්වීම
D - බුදු පිළිම නිර්මාණ කලාවේ ආරම්භය

ඉහත සඳහන් තොරතුරු අතුරෙන් කණිෂ්ක රජතුමාගේ රාජ්‍ය කාලය හා සම්බන්ධ සිද්ධීන් දෙක ඇතුළත් වන්නේ කිනම් පිළිතුරේ ද?

(1) A හා B (2) A හා D (3) B හා C (4) C හා D

32. දිල්ලි සුල්තාන් රජවරුන් කිහිපදෙනෙක්ගේ නම් I තීරුවේ ද, ඔවුන් හා සම්බන්ධ ප්‍රකාශ කිහිපයක් II තීරුවේ ද වේ.

| I තීරුව | II තීරුව |
|---|---|
| (i) කුටුබ්-උද්දීන්-අයිබෙක් | A - දිල්ලි සුල්තාන් රාජ්‍යයේ උපරිම බල ව්‍යාප්තිය සිදු වීම |
| (ii) අලා-උද්දීන්-ඛල්ජි | B - ඉන්දියාවට පොදු ආගමක් හඳුන්වාදීමට උත්සාහ දැරීම |
| (iii) මොහොමඩ්-බින්-ටුග්ලුග් | C - දිල්ලි සුල්තාන් රාජ්‍යයේ ආරම්භක පාලකයා වීම |
| (iv) ඊබ්‍රාහිම් ලෝදි | D - දිල්ලි සුල්තාන් රාජ්‍යයේ අවසාන පාලකයා වීම |
| | E - සෙයියදු රාජ වංශයේ ආරම්භක පාලකයා වීම |

I තීරුවේ අනුපිළිවෙළට ගැළපෙන සේ II තීරුව සකස් කළ විට නිවැරදි පිළිතුර කවරක් ද?

(1) A, B, C හා D (2) B, C, D හා E (3) C, B, A හා D (4) E, B, D හා A

33. පහත සඳහන් ප්‍රකාශ අතුරෙන් වැඩවසම් ක්‍රමය සම්බන්ධයෙන් සත්‍ය වූ ප්‍රකාශ දෙක ඇතුළත් පිළිතුර කුමක් ද?
A - උත්පත්තිය මත සමාජ තරාතිරම තීරණය වීම
B - නිෂ්පාදන අතිරික්තයක් ඇති වීම
C - වංශාධිපති ප්‍රාදේශීය පාලකයන් ස්වාධීනව කටයුතු කිරීම
D - සාමාන්‍ය ජනතාවට ඉඩම් අයිතිය තිබීම
E - අධිකරණ කටයුතු සම්පූර්ණයෙන් ම රජු යටතේ සිදු වීම
(1) A හා B (2) A හා C (3) B හා C (4) D හා E

34. පහත ප්‍රකාශවලින් දැක්වෙන්නේ එක්තරා නගරයකට අදාළ තොරතුරු කිහිපයකි.
A - යුරෝපයේ මධ්‍යතන යුගයේ දී පෙරදිග හා අපරදිග වෙළෙඳුන් හමුවන මධ්‍යස්ථානයක් වී තිබීම
B - නැගෙනහිර රෝම අධිරාජ්‍යයේ අගනුවර වීම
C - භාෂා - ශාස්ත්‍රීය කටයුතු පිළිබඳ ව වැදගත් මධ්‍යස්ථානයක් වීම
ඉහත කරුණු සම්බන්ධයෙන් වැදගත් වූ නගරය මින් කුමක් ද?
(1) ඇලෙක්සැන්ඩ්‍රියා (2) මාර්සෙල්
(3) කොන්ස්තන්තිනෝපල් (4) පැරිස්

35. යුරෝපයේ පුනරුද සමයේ දියුණුවට පත් වූ ක්ෂේත්‍ර කිහිපයක් හා සම්බන්ධ පුද්ගලයන්ගේ නම් I තීරුවේ ද, ඔවුන් ප්‍රසිද්ධියට පත් ක්ෂේත්‍ර II තීරුවේ ද දැක්වේ.

| I තීරුව | II තීරුව |
|---|---|
| (i) කොලොම්බස් | A - වෛද්‍ය ක්ෂේත්‍රය |
| (ii) මයිකල් ආන්ජිලෝ | B - චිත්‍ර කලාව |
| (iii) විලියම් හාවේ | C - දේශ ගවේෂණය |
| | D - තාරකා විද්‍යාව |
| | E - මුද්‍රණ ශිල්පය |

I තීරුව අනුව II තීරුව ගැළපූ විට නිවැරදි පිළිතුර කවරක් ද?
(1) A, B හා C (2) B, C හා D (3) C, B හා A (4) D, E හා A

36. 15 වැනි සියවසේ සිට ම දේශ ගවේෂණය හා යටත් විජිත පිහිටුවීමේ කාර්යයෙහි දී ස්පාඤ්ඤය පෙරමුණේ සිටිය ද, 17 වැනි සියවස වන විට ඔවුන්ගේ ආධිපත්‍යය බිඳ වැටීමට හේතු වූ කරුණ වූයේ,
(1) ඔවුන්ගේ දේශ ගවේෂණ කටයුතුවලට රාජානුග්‍රහය නොලැබී යාමයි.
(2) යුරෝපයේ බල තුලනය ඕලන්දය, ප්‍රංශය හා එංගලන්තය යන රටවලට වාසිදායක ලෙස වෙනස් වීමයි.
(3) යටත් විජිත පිහිටු වීමේ දී ඔවුන් අනුගමනය කළ කෲර හා බිහිසුණු ප්‍රතිපත්තියයි.
(4) පාප් වහන්සේගේ නියමය අනුව ඇමරිකා මහද්වීපවලට පමණක් ඔවුන්ගේ කටයුතු සීමා වීමයි.

37. පුනරුදයේ විශේෂ ලක්ෂණයක් වූයේ,
(1) පුද්ගලයාට වඩා සාමූහිකත්වය ඉස්මතු වීම ය.
(2) කලාව හා සාහිත්‍යය ලෞකික මුහුණුවරක් ගැනීම ය.
(3) ග්‍රීක හා ලතින් භාෂාවලට වඩා ගෝත්‍රික භාෂා ජනප්‍රිය වීම ය.
(4) කලාව හා සාහිත්‍යය ආගමික මුහුණුවරක් ගැනීම ය.

38. ක්‍රි.ව.1811 දී ජෝන් මැකඩම් විසින් හඳුන්වා දෙනු ලැබූ 'මැකඩම් ක්‍රමය' භාවිත කරන ලද්දේ,
(1) මහාමාර්ග තැනීම සඳහා ය.
(2) යපස් උණු කොට යකඩ නිපදවීම සඳහා ය.
(3) දුම්රිය මාර්ග තැනීම සඳහා ය.
(4) යකඩවල ඇති අපද්‍රව්‍ය ඉවත් කර වානේ නිපදවීම සඳහා ය.

39. සමුරායිවරුන්ගේ තත්ත්වය පහත වැටී ඩයිමියෝවරුන්ගේ තත්ත්වය ඉහළ නැංවී ජපානයේ සමාජ විපර්යාසයක් සිදු වූයේ කවර පාලන සමයේ දී ද?
(1) ටොකුගාවා ෂෝගුන්
(2) මෙයිජි
(3) මුට්සුහිතෝ අධිරාජයා
(4) හිරෝහිතෝ අධිරාජයා

40. ක්‍රි.ව.1959 දී චීනයේ කෘෂිකාර්මික ක්ෂේත්‍රයේ ශීඝ්‍ර වර්ධනයක් ඇති කිරීම සඳහා මාඕ-සේ-තුං විසින් හඳුන්වා දෙනු ලැබූ වැඩසටහන වූයේ,
(1) දීර්ඝ පාගමනයි.
(2) සමූපකාර ගොවිපළවල් පිහිටු වීමයි.
(3) මහා ඉදිරි පිම්මයි.
(4) රතු ආරක්ෂක හමුදාව පිහිටු වීමයි.

* * *